# කුහුඹියා
# සහ
# අජටාකාශගාමියා



අ. මිත්‍යායෙව්



# කුහුඹියා සහ අජටාකාශගාමියා


අ. මිත්‍යායෙව්

පරිවර්තනය
දූදිගම වි. රුද්‍රිගු

නව සකැසුම
මාලක ලලනජීව



ISBN 978-955-1979-21-8

ප්‍රකාශනය



කැනොල් පබ්ලිෂිං හවුස්

මුද්‍රණය
රොනැට් එන්ටප්‍රයිසස්

මුද්‍රණය 2013

එකෝමත් එක කුහුඹු ගුහාවක අපූරු කුහුඹියෙක් හිටියා. ඌ තරුණයි, රතු පාටයි. උගෙ නම මූරා. උගේ ගුහාව තිබුණෙ ගෙවැටක් යට. එක පැත්තක ගෙවත්ත. අනිත් පැත්තෙ මහ පාර. හිමිදිරි පාන්දර කිරි බඳුන් පටවා ගත්තු ලොරි මහ පාරෙ ගමන් කරනවා. එතකොට කුහුඹු ගුහාව දෙදරුම් කන්න පටන් ගන්නවා. මූරා ඉර මුදුන් වෙන තෙක් නිදාගන්න කැමති වුණාට, ගුහාව දෙදරුම් කන හන්දා අවදි වෙනවා. මුහුණ සෝදා ගෙන වැඩට යනවා.

බිරියෝසා ගහක් යටට වෙලා දළඹුවන් ඇල්ලීම තමා ඌට අයිති වැඩේ. ඌ දළඹුවන් අල්ලාගෙන ගුහාවට ගෙනියනවා.



දවසක් දා මූරා බිරියෝසා ගහ යටට වෙලා විවේක ගනිමින් හිටියා. දළඹුවන් නැති ද කියලා වට පිට බැලුවා. දළඹුවන් හිටියේ නැහැ. ඒ වුණාට අහසේ ඉඳලා ඉර පහත් වෙන හැටි මූරාට පෙනුණා.

මූරා බය වෙලා පැන දුවන්ට ලැහැස්ති වුණා. බිමට වැටෙන ඉර මැද මිනිහෙක් ඉන්න හැටි ඌ දැක්ක හන්දා දිව්වේ නැහැ. ඒ මිනිහගෙ ඇඳුමයි, තොප්පියයි නිසා එයාව හඳුනගන්න මූරාට පුළුවන් වුණා. පැරචූට් කුඩයකින් පොළොවට බැස්සේ කවුද දන්නවද? අප්ටාකාශ ගාමියෙක්!



අජටාකාශ ගාමියා පොළොවට බැහැලා පැරචුටය ගලවලා, තොප්පිය අතට අරගෙන බිරියෝසා ගහ ළඟට ආවා.

"ආයුබෝවන් බිරියෝසා!" කියලා ගහට කතා කළ අජටාකාශ ගාමියා, බිරියෝසා ගහේ රිකිල්ලක් සිප ගත්තා.

මා වාගේ කුහුඹි ඉන්නකොට මේ මිනිහා මොකද ගස්වලට කතා කරන්නේ! කියලා මූරා සිතුවා. මූරා උගේ රතු පාට රැවුල කරකවලා අජ්ටාකාශ ගාමියාගේ සපත්තුවට නැගලා, එයාගේ කකුලක් දිගේ උඩට ගිහින්, ඊට පස්සෙ පිට දිගේ නැගලා අතක ඇඟිල්ලකට ඇවිත් හිට ගත්තා.

අජ්ටාකාශ ගාමියා මූරාව දැකලා හිනාවුණා.

"සුබ උදෑසනක් වේවා මූරා! නුඹ උදේ පාන්දරින් ම නැගිට්ට ද? වැඩ කරනව ද?"

"ඔව්, වැඩ තමා" ලැජ්ජා වුණු මූරා කීවා. "හැබෑ ද ලෝකය වට්ටක්කා ගෙඩියක් වගේ වටකුරුයි කියන්නේ?" මූරා ඇහුවා.

"ඇත්ත. මම අජ්ටාකාශෙ පියාසර කළා. ලෝකය වටකුරු බව මම දැක්කා" අජ්ටාකාශ ගාමියා කිව්වා.

"ලෝකෙ උඩ පැත්තෙ හරි හොඳයි. මිනිස්සුයි, කුහුඹියි ජීවත් වෙනවා. යටි පැත්තෙ කිසිවෙක් නැහැ නෙව ද? හැම දෙයක් ම පහළට වැටෙනවා නේ ද?" කියලා මූරා ඇහුවා.



"යටි පැත්තෙත් අපි වගේ මිනිසුන් ඉන්නවා. නුඹලා වගේ කුහුඹිත් ඉන්නවා, මූරා" අප්ටාකාශ ගාමියා කිව්වා.

"හැබෑ ද!" මූරා සැක හිතුවා.

ලොකු හඬක් ඇසුණා. අප්ටාකාශ ගාමියා ගෙනියන්ට හෙලිකොප්ටරයක් ආවා.

"නුඹ ඉක්මනට හැංගියන්, නැතිනම් සුළඟට ගසාගෙන යාවි" අප්ටාකාශ ගාමියා මූරාට කිව්වා. පසුව ඌව ගලකට එහා තැබුවා.

හෙලිකොප්ටරය ගියායින් පසු, මූරා දුවගෙන ගියා. ඌට හමුවුණ මිනිහා ගැන අනිත් කුහුඹුවන්ට කියන්නට.





## මූරා නටනවා

ගුහාවෙ ඉන්න කුහුඹි සේරම නෑයො. අක්කලා, නංගිලා, අයියලා. මල්ලිලා, නැන්දලා, මාමලා, බෑනලා, ලේලිලා, අම්මලා, තාත්තලා. මේ කුහුඹි හැම දෙනාම අප්ටාකාශ ගාමියාව දැක්කා. එහෙත් ඔහු සමග කතා කිරීමට වාසනාව ලැබුණු එක ම කුහුඹියා මූරා විතරයි. ඉතින් මූරා සිතුවා දැන් ඌත් බොහොම වැදගත් සතෙක් කියලා. වැඩ කරන්ට ඕන නැහැ, කෑම හොයන්ට ඕන නැහැ. හැම තිස්සෙම නට නටා ඉන්ට පුළුවනි කියලා. මූරා නටන්න බොහොම කැමතියි. ඌ පටිය තද කරගෙන පිදුරු ගහක් කඩුවක් වගේ එල්ලාගෙන නටන්ට පටන් ගත්තා.

"ඔහෙ නටපුවාවෙ. වෙනින් කෙනෙක් නම් සතුට හන්දා මැරිලා යාවි. නටලා ඉවර වෙලා කෑම හොයාගෙන එන්නෙ නැතැ"යි කියලා අනිත් කුහුඹියෝ කීවා.

මූරා කෑම හොයන්ට ඕනයි කියලා හිතුවේවත් නැහැ. දිගටම නටන්න පටන් ගත්තා. අතින් කුහුඹියෝ තරහ වෙලා හවස කුහුඹි ගුහාවේ දොර වහලා දැම්මා. මූරා පාර අයිනට වෙලා රෑ ගත කළා.



"අහා, නුඹලා මට මෙහෙම කළා! හොඳයි, මම තනිවම කුහුඹි ගුලක් හදා ගන්නම්. නුඹලාගේ ගුහාවට වැඩිය හොඳ ගුහාවක්! මම තනියම ජීවත් වෙන්නම්. ලෝකෙ හැටි මට අජටාකාශ ගාමියා කීවා." පාර අයිනේ හිටගෙන මූරා කෑ ගහලා කීවා.

රෑ බොහොම හීතලයි. "හැබෑටම මට වෙනම තැනක් හොයා ගන්ට බැරිද?" කියලා මූරා හිතුවා.

## මූරාගේ ඉඩම

පහුවදා උදේ මූරා ඉඩමක් හොයන්ට ගියා. වැලක තිබුණු වට්ටක්කා ගෙඩියක් ඌ දැක්කා. එය උගේ හිතට ඇල්លුවා. වට්ටක්කා ගෙඩියත් හරියට ලෝකය වගේ වටකුරුයි. ඌ වට්ටක්කා ගෙඩියට නැගලා කහ පාට තීරු දැකලා කිව්වා ඒවා තමා කුඹුරු කියලා. කොළ පාට තීරු කැලෑ කියලා සිතුවා. වට්ටක්කා නැට්ට වටේ වැහි වතුර එකතු වෙලා තිබුණා. එය තමා මුහුද කියල මූරා සිතුවා.



මූරා වට්ටක්කා නැට්ට වටේ ඇති මුහුද අයිනට වෙලා වැදි නැටුමක් නැටුවා. ටික වේලාවක් හති හැරලා ලෝකය වටේ ඇවිදින්ට ගියා. කඳු කොහෙද කියලා හොයන්ට ඌ ගියා. ඔහොම යනකොට උගේ පය ලිස්සලා ඌ බිම වැටුණා.

"ඒ කොහොම ද? අප්ටාකාශ ගාමියා කිව්වා නේ ද මහ පොළොවෙන් පිටතට වැටෙන්ට බැරිය කියලා" මූරා පිට කසමින් කල්පනා කළා.

මූරා ආයෙමත් වට්ටක්කා ගෙඩියට නැගලා මුහුද අයිනේ වාඩිවෙලා කල්පනා කළා කොහොමද මේ ඉඩමේ කුහුඹි ගුහාවක් හාරා ගන්නේ කියලා. එවෙලාවෙම වට්ටක්කා ගෙඩිය හෙළවුණේ නැතිනම් ඌ ගුහාවක් හාරා ගැනීමට උපායක් කල්පනා කරාවි.





"අහෝ!" මූරා බය වුණා. "භූමි කම්පාවක්... මගේ ලෝකය හැබෑ ලෝකයක්..." මූරා සිතුවා.

එය භූමි කම්පාවක් නොවේ. ගෙවත්ත ළඟින් ගිය කොල්ලෙක් වට්ටක්කා ගෙඩියට කැටපලයකින් ගලක් විද්දා. එවිට වට්ටක්කා ගෙඩිය හෙළවුණා.

# අලුත් හමුවීම

ඔහොම දවස් කීපයක් තිස්සේ ම මූරා ගෙවත්තේ ඇවිද්දා. වැට දිගේ ගියා. ඌ කැමති වුණේ නැහැ උගේ නෑයින් හමුවෙන්ට. වට්ටක්කා ගෙඩිය දැන් ඌට එපා වෙලා. ආපහු කුහුඹි ගුහාවට යන්ට ඌ කැමති වුණේ නැත්තේ, උගේ උඩඟුව හන්දා. මූරා දැන් ගෙයක් නැතිව ඉබාගාතේ ඇවිදිනවා. ඉස්සර වගේ වැදි නැටුම නට නටා සතුටු වෙන්නෙත් නැහැ. දැන් මූරා තරහෙන් ඉන්නවා. බිරියෝසා ගහ මුල වාඩිවෙලා ඉන්න මිනිහකු දැකලා එයා ළඟට දුවලා දුවලා ගියා. "දැන් මම ඔහුව හපනවා! දැන් ඔහු උඩ පනීවි!"

මූරා තණ කොළ අස්සෙන් වේගයෙන් දිව්වා. ඌ වැඩි වැඩියෙන් තරහ වුණා. "මම දැන් ඔය මිනිහගෙ නහය හපනවා!"

මූරා කැත විදිහට සටන් කරන්ට හිතාගෙන, වාඩි වී හිටි මිනිහාගේ පිට දිගේ නැගලා බෙල්ලට ආවා. පසුව කම්මුල දිගේ නහයට නැග්ගා. වේදනාව වැඩි කිරීමට හිතා ගෙන බෙල්ල පහත් කරලා සැරෙන් හපන්ට හදනකොට ම, මිනිහා මූරාව ඇඟිලි තුඩුවලින් අල්ලා ගත්තා.

"අහා! පරණ යාළුවා! නුඹ මොකද මගේ නහය උඩට ආවෙ?" මිනිසා ඇසුවා.

මූරා හොඳටම බය වුණා. ඒ දවසක් දා උදේ මූරාට හමුවුණ අජටාකාශ ගාමියා බව මූරා දැනගත්තා.

රතු පාට මූරා ලැජ්ජාව හන්දා හොඳටම රතු වුණා.

"සු-සු-සුබ උදෑසනක් වේවා! අයෙමත් මෙහෙ ආවාද?..." කියලා මූරා ගොත ගසමින් ඇසුවා.

"මේ තණ පිටිය බලන්ට ආවා. බිරියෝසා ගහ යට වාඩි වෙලා නුඹ හමුවෙලා කතා කරන්ට ආවා. අජටාකාශෙ ඉඳලා මහ පොළොවට එන කොට නුඹව නේද මට හමුවුණේ. මහ පොළොවට පැමිණීම බොහොම ලොකු සතුටක්" අජටාකාශ ගාමියා කීවා.

"ලෝකය වට්ටක්කා ගෙඩියක් වගේ ද?" තමාගේ ලෝකය වන වට්ටක්කා ගෙඩියේ සිට බිම වැටුණ හැටි මතක් වුණ හන්දා මූරා එහෙම ඇසුවා.

"ලෝකය වට්ටක්කා ගෙඩියක් වගේ, පන්දුවක් වගේ, බැලුම් බෝලයක් වගේ වටකුරුයි කියලා මම නුඹට කිව්වා නේ ද? අජ්ටාකාශෙ අපේ ලෝකය පා වෙනවා."

"ඒකෙන් කිසිවෙක් බිම වැටෙන්නෙ නැති ද?"

"කිසිවෙක් බිම වැටෙන්නෙ නැහැ."

"එහෙනම් මොකද මගේ වට්ටක්කා ලෝක ගෝලයෙන් මම බිමට වැටුණෙ?" මූරා එහෙම ඇසුවේ අමනාපෙන්.

මූරාගේ කතාව ඇසූ අජ්ටාකාශ ගාමියා හිනා වුණා.

"ලෝකය බොහොමත් පුදුම දෙයක්, මගෙ පුංචි මූරා. නුඹට හදිසි වැඩක් නැතිනම්, මම නුඹට කතන්දරයක් කියන්නම්."

"වැඩක් නැහැ. කතන්දරයක් කියන්න." මූරා කනගාටුවෙන් කිව්වා.

අජ්ටාකාශ ගාමියාගේ කමිසයේ බොත්තමක වාඩිවෙලා මූරා කතන්දරය ඇසීමට සූදානම් වුණා.



## පළමුවැනි කතන්දරය

ඉස්සර කාලේ පොළොවේ සිට හැම දෙයක්ම පිටතට විසි වුණා. පහළ තිබුණු දේ පහළට වැටුණා. ඉහළ තිබුණු දේ ඉහළට වැටුණා. ඉහළට වැටෙනවා කීවම පුදුමයක් නෙවද. ඔව් පොළොවේ ඉහළ තිබුණු හැම දෙයක් ම ඉහළට ගියේ හරියට කුරුල්ලො වගෙ. බලු කූඩුවෙ බැඳලා නොතිබුණු බල්ලන් ඉහළට වීසි වුණා. ඉදුණු ඇපල් ගෙඩි අත්තෙන් වෙන්වුණු හැටියේ ම ඉහළට වීසි වුණා. ඉතින් ඉදෙන්න ඉස්සෙල්ලා ඇපල් කඩන්න සිදු වුණා. ඒවා කටේ තියන්න බැරි තරම් ඇඹුල්.

මිනිසුන්ට පාරේ ගමන් කිරීමට වැටවල් හදලා තිබුණා. වැටවල් අල්ලාගෙන තමයි මිනිස්සු ගියේ.

මිනිසුන්ට අනතුරු වීම වැලැක්වීමට නගරවලට හා ගම්වලට උඩින් ලොකු යකඩ දැල් හදලා තිබුණා. ඒවා කණුවලට සවි කරලා. වැටවල් අල්ලා ගමන් කිරීම අමතක කළ මිනිසුන් ඉහළට වීසි වෙලා ඔය දැල්වලට අහුවෙනවා. ඉණිමග දිගේ ඒ අය බිමට බැස්සා.



ගෙදර වුණේ මොනවා ද? මේස, පුටු බිමට සවි කරලා නොතිබුණොත් ඒවා වහළට විසි වෙනවා.

ඉතින් මූරා නුඹට පේනවා නෙවද, නුඹේ වට්ටක්කා ගෙඩියට වඩා, ඉස්සර ලෝකයේ ජීවත් වීම අමාරු වී තිබුණු හැටි.

මිනිස්සු මහ පොළොවට කතා කරල මෙහෙම කිව්වා. "මහ පොළොව ඔබ බොහොම කරුණාවන්තයි නෙවද, අපිව ඔබෙන් ඈත් නොවන විදිහට සලස්වන්න."

"හොඳයි, මගේ පොළොවට ගෑවුණු හැම දෙයක් ම මා වෙත ඇදගන්නම්. හරියට ඉඳිකටු කාන්දමට ඇද ගන්නා වගේ." කියලා මහ පොළොව කිව්වා.

මහ පොළොව තදින් ම හැම දෙයක් ම ඇද ගත්තා. මිනිසුන්ට කකුල් පවා ඔසවා ගන්නට බැරි වුණා. කුරුල්ලන්ට අත්තටු ගහන්න වත්, ඉගිලෙන්නවත් බැරුව ගියා. ගස් මුදුන් මහ පොළොවට පහත් වුණා.

"අනේ අනේ මහ පොළොව බොහොම තදින් ඇද ගන්නවා නෙවද, ටිකක් බුරුල් කරන්න...." මිනිස්සු ඉල්ලා හිටියා.

එතකොට මහ පොළොව දැන් තියෙන විදිහට ඇදගැනීම අඩු කළා.

## දෙවැනි කතන්දරය

මහ පොළොවෙ හැම දෙයක් ම හොඳට තිබුණේ නැහැ. නුඹගේ වට්ටක්කා ගෙඩිය වගේ මහ පොළොව හෙළවෙන්නේ නැතුව තිබුණා. ඉර අව්ව වැටුණෙ එක පැත්තකට විතරයි. ඉතින් එක පැත්තක හැමදාම දහවල් අනිත් පැත්තේ හැමදාම රෑ.

ඉර අව්ව පායන පැත්තේ හැමදාම වට්ටක්කා, දොඩම්, දෙහි ආදිය වැවුණා. කුරුල්ලෝ ගී සින්දු කිව්වා. සමනලයෝ ඉගිලුණා. හාවෝ උඩ පැන්නා. කළුවර පැත්තේ ගස් වැවුණේ නැහැ. බස්සෝ, වවුල්ලු පමණක් ඒ පැත්තේ හිටියා. සමහර දවස්වලට බළල්ලු කළුවර පැත්තට ගියා. මොකද දන්නවද, උන් කළුවරට ආසයි. ඒත් ඉක්මනට බළල්ලු ආපහු ඉර අව්ව පායන පැත්තට ආවා.

මිනිස්සු නිදා ගන්න යනකොට ජනෙල්වල තිර වසා දමනවා. ඉර අව්ව හන්දා ඒ ගොල්ලන්ට නිදාගන්න බැහැ. සමහරු නිදාගන්න කළුවර පැත්තට ගියා. ඉතින් ඒ ගොල්ල වැඩට යන්ටත්, පාසල් යන්ටත් පමා වුණා. කළුවරේ යන එන හන්දා ඔවුන්ට තුවාල වුණා.

"කරුණාවන්ත මහ පොළොව, වටේට කරකැවෙන්න" කියල මිනිස්සු ඉල්ලා හිටියා.

මහ පොළොව බඹරයක් වගේ කැරකෙන්න පටන් ගත්තා. ඉර වරකට එක පැත්තකට එළිය දුන්නා. අනිත් වර අනිත් පැත්තට එළිය දුන්නා.

මූරා, දැන් අපි ඉන්න පැත්තට ඉර අව්ව වැටිලා දහවල් කාලයයි. අනිත් පැත්තට කළුවරයි. අපේ පැත්තට ඉර අව්ව සැරට වැටිලා. කළුවර පැත්තට රෑ වෙලා. ඒ පැත්තෙ මිනිස්සුයි, කුහුඹියොයි හැම දෙනා ම නිදා ගන්නවා.



# තුන්වැනි කතන්දරය

මූරා, වට්ටක්කා ගෙඩියට ගල් පාරක් වැදිලා නුඹ නොමැරී බේරුණා කියලා කිව්වා නේද. මහ පොළොවටත් ඒ වගේ ම ගල් බොහොමයක් වැටුණා.



එතකොට මහ පොළොව මිනිසුන්ට මෙහෙම කීවා. "ගල් පහරවලින් බේරීමට මට කමිසයක් අන්දවපල්ලා! මම නුඹලාට උදව් කළා. දැන් ඉතින් නුඹලා මට උදව් කරපල්ලා!"



වීදුරු හදන මිනිස්සු එකතු වෙලා වීදුරු කමිසයක් හැදුවා. ඔය කමිසය අන්දවන්ට ලැහැස්ති වෙන කොට ගලක් වැටිලා බිඳුණා. ඒ ගල්වලට කියන්නේ උල්කාපාත කියලා. බිඳුණු තැනට වීදුරුවක් සවි කරන කොට තව තැනක් කැඩෙනවා.

මිනිස්සු කනගාටු වුණා. යකඩ කමිසයක් අන්දවන්ට බැහැ. එහෙම කළොත් හිරු එළිය ලැබෙන්නේ නැතිව යාවි.

"එහෙනම් අපි වෑයම් කරමු" කියල පුංචි ළමයින්ට බැලුම් බෝල විකුණන වෙළෙන්දෝ කිව්වා. බැලුම් බෝලය පුරවන හුළංවලින් ඒ ගොල්ලෝ මහ පොළොව වටේට කමිසයක් හැදුවා.

ඉතින් ඔය හුළං කමිසයට හැම දෙනාම බොහොම කැමති වුණා. උල්කාපාතවලට මහ පොළොවට එන්න බැහැ. හුළං කමිසයකට අහුවුණු හැටියෙම උල්කාපාත ගිනි කූරක් වගේ ගිනි ගන්නවා.

බැලුම් බෝල වෙළෙන්දෝ විද්‍යාත්මක නම් දීමට බොහොම කැමතියි. ඒ ගොල්ල හදාපු කමිසයට වායුගෝලය කියල නම් තැබුවා. ඊට පස්සේ ඒ ගොල්ල බැලුම් බෝල විකුණන්ට පටන් ගත්තා.

## මහ පොළොව

"දැන් ඉතින් මම මොනවා කරන්න ද?" මූරා ඇසුවා. "කුහුඹි ගුහාවට ඇතුළු වෙන්න මට අවසර නැහැ. හැබෑටම වට්ටක්කා ගෙඩිය මහ පොළොව නොවේ. සිසිර කාලයට වට්ටක්කා ගෙඩිය කඩාගෙන ගෙදර ගෙනයාවි. වට්ටක්කා මදය උයාගෙන කාවි. වට්ටක්කා ඇට බැදල සීත කාලෙට පොඩි කොල්ලන්ට දේවි. ළමයින්ට නම් බොහොම හොඳයි. හිම කබා තියෙනවා. හිම සපත්තු, හිම තොප්පි තියෙනවා. සීත කාලෙදි මැරිල යාවි."

මූරාගේ ඇස් දෙක කඳුළුවලින් පිරුණා. ඌ ඇස් පිසදා ගත්තා.

"අන්න බලපන් මූරා" අජටාකාශ ගාමියා සෙමින් මූරාට කීවා.

"මොනවා බලන්න ද?" මූරා ඇසුවා. ඊට පස්සෙ ඌ උඩ බැලුවා.

බිරියෝසා ගහක අත්තක සිට සේද නූලක් දිගේ දලඹුවෙක් පහළට ඇදෙන සැටි පෙනුණා.

"නුඹගෙ වැරැද්ද හරිගස්සා ගන්ට නුඹට හැකියි. මිනිස්සු, කුහුඹි බොහොම ඉන්නවා. මහ පොළොව එකයි. දෙකක් නැහැ. දැන් ඉතින් ගිහින් දඬයම් කරපන්!" අජ්ටාකාශ ගාමියා මූරාට කිව්වා.

අජ්ටාකාශ ගාමියා මොටෝ රියට නැගලා ගියා. කුහුඹියා දලඹුවා වැටෙන්ට යන තැනට දුවගෙන ගියා.

කුහුඹියා තම දඬයම වන දලඹුවාව කුහුඹි ගුහාවේ ගබඩාවට ඇදගෙන ගියා. අනිත් කුහුඹි කතා නොකර හිටියා. බොරු ආඩම්බරකාර මූරාට හොඳ පාඩමක් උගන්වපු බව උන්ට දැනුණා. දලඹුවාව ඇදගෙන ගිය මූරා මෙහෙම කීවා.

"මිනිස්සු, කුහුඹි බොහොම ඉන්නවා. මහ පොළොව එකයි, දෙකක් නැහැ!"

අනිත් කුහුඹි කතා නොකර හිටියා. මොකද දන්නවද එක මහ පොළොවක් පමණක් තියෙන බව උන් දැනගෙන හිටිය හන්දා.



